සියලු ම හිමිකම් ඇවිරිණි.

රහස්‍ය ලේඛනයකි.



NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව

අ.පො.ස. (උ.පෙළ) විභාගය - 2020

# 33 - ගිණුම්කරණය

## නව නිර්දේශය

ලකුණු දීමේ පටිපාටිය

මෙය උත්තරපත්‍ර පරීක්ෂකවරුන්ගේ ප්‍රයෝජනය සඳහා සකස් කෙරිණි.
ප්‍රධාන/ සහකාර පරීක්ෂක රැස්වීමේ දී ඉදිරිපත්වන අදහස් අනුව මෙහි වෙනස්කම් කරනු ලැබේ.

අවසන් සංශෝධන ඇතුළත් කළ යුතුව ඇත.

# අ.පො.ස. (උ.පෙළ) විභාගය - 2020

## 33 - ගිණුම්කරණය

## නව නිර්දේශය

### ලකුණු බෙදීයාම

| | | | |
|---|---|---|---|
| I පත්‍රය | 04 x 50 | = | 200 |
| II පත්‍රය | | = | 200 |
| එකතුව | | = | 400 ÷ 4 |
| අවසාන ලකුණු | | = | **100** |

## උත්තරපත්‍ර ලකුණු කිරීමේ පොදු ශිල්පීය ක්‍රම

උත්තරපත්‍ර ලකුණු කිරීමේ හා ලකුණු ලැයිස්තුවල ලකුණු සටහන් කිරීමේ සම්මත ක්‍රමය අනුගමනය කිරීම අනිවාර්යයෙන්ම කළ යුතුවේ. ඒ සඳහා පහත පරිදි කටයුතු කරන්න.

1. උත්තරපත්‍ර ලකුණු කිරීමට රතුපාට බෝල් පොයින්ට් පෑනක් පාවිච්චි කරන්න.
2. සෑම උත්තරපත්‍රයකම මුල් පිටුවේ සහකාර පරීක්ෂක සංකේත අංකය සටහන් කරන්න. ඉලක්කම් ලිවීමේදී **පැහැදිලි ඉලක්කමෙන්** ලියන්න.
3. ඉලක්කම් ලිවීමේදී වැරදුණු අවස්ථාවක් වේ නම් එය පැහැදිලිව තනි ඉරකින් කපා හැර නැවත ලියා කෙටි අත්සන යොදන්න.
4. එක් එක් ප්‍රශ්නයේ අනු කොටස්වල පිළිතුරු සඳහා හිමි ලකුණු ඒ ඒ කොටස අවසානයේ△ක් තුළ ලියා දක්වන්න. අවසාන ලකුණු ප්‍රශ්න අංකයත් සමඟ□ක් තුළ, භාග සංඛ්‍යාවක් ලෙස ඇතුළත් කරන්න. ලකුණු සටහන් කිරීම සඳහා පරීක්ෂකවරයාගේ ප්‍රයෝජනය සඳහා ඇති තීරුව භාවිත කරන්න.

**උදාහරණ :ප්‍රශ්න අංක 03**

(i) ............................................................ √ △ $\frac{4}{5}$

(ii) ............................................................ √ △ $\frac{3}{5}$

(iii) ............................................................ √ △ $\frac{3}{5}$

(03) (i) $\frac{4}{5}$ + (ii) $\frac{3}{5}$ + (iii) $\frac{3}{5}$ = □ $\frac{10}{15}$

### බහුවරණ උත්තරපත්‍ර : (කවුළු පත්‍රය)

1. අ.පො.ස. (උ.පෙළ) හා තොරතුරු තාක්ෂණ විභාගය සඳහා කවුළු පත්‍ර දෙපාර්තමේන්තුව මගින් සකසනු ලැබේ. නිවැරදි වරණ කපා ඉවත් කළ සහතික කරන ලද කවුළුපතක් ඔබ වෙත සපයනු ලැබේ. සහතික කළ කවුළු පත්‍රයක් භාවිත කිරීම පරීක්ෂකගේ වගකීම වේ.
2. අනතුරුව උත්තරපත්‍ර හොඳින් පරීක්ෂා කර බලන්න. කිසියම් ප්‍රශ්නයකට එක් පිළිතුරකට වඩා ලකුණු කර ඇත්නම් හෝ එකම පිළිතුරක්වත් ලකුණු කර නැත්නම් හෝ වරණ කැපී යන පරිදි ඉරක් අඳින්න. ඇතැම් විට අයදුම්කරුවන් විසින් මුලින් ලකුණු කර ඇති පිළිතුරක් මකා වෙනත් පිළිතුරක් ලකුණු කර තිබෙන්නට පුළුවන. එසේ මකන ලද අවස්ථාවකදී පැහැදිලිව මකා නොමැති නම් මකන ලද වරණය මත ද ඉරක් අඳින්න.
3. කවුළු පත්‍රය උත්තරපත්‍රය මත නිවැරදිව තබන්න. නිවැරදි පිළිතුර ✓ ලකුණකින් ද, වැරදි පිළිතුර 0 ලකුණකින් ද වරණ මත ලකුණු කරන්න. නිවැරදි පිළිතුරු සංඛ්‍යාව ඒ ඒ වරණ තීරයට පහළින් ලියා දක්වන්න. අනතුරුව එම සංඛ්‍යා එකතු කර මුළු නිවැරදි පිළිතුරු සංඛ්‍යාව අදාළ කොටුව තුළ ලියන්න.

**ව්‍යුහගත රචනා හා රචනා උත්තරපත්‍ර :**

1. අයදුම්කරුවන් විසින් උත්තරපත්‍රයේ හිස්ව තබා ඇති පිටු හරහා රේඛාවක් ඇඳ කපා හරින්න. වැරදි හෝ නුසුදුසු පිළිතුරු යටින් ඉරි අඳින්න. ලකුණු දිය හැකි ස්ථානවල හරි ලකුණු යෙදීමෙන් එය පෙන්වන්න.

2. ලකුණු සටහන් කිරීමේදී ඕවර්ලන්ඩ් කඩදාසියේ දකුණු පස තීරය යොදා ගත යුතු වේ.

3. සෑම ප්‍රශ්නයකටම දෙන මුළු ලකුණු උත්තරපත්‍රයේ මුල් පිටුවේ ඇති අදාළ කොටුව තුළ ප්‍රශ්න අංකය ඉදිරියෙන් අංක දෙකකින් ලියා දක්වන්න. ප්‍රශ්න පත්‍රයේ දී ඇති උපදෙස් අනුව ප්‍රශ්න තෝරා ගැනීම කළ යුතුවේ. සියලු ම උත්තර ලකුණු කර ලකුණු මුල් පිටුවේ සටහන් කරන්න. ප්‍රශ්න පත්‍රයේ දී ඇති උපදෙස්වලට පටහැනිව වැඩි ප්‍රශ්න ගණනකට පිළිතුරු ලියා ඇත්නම් අඩු ලකුණු සහිත පිළිතුරු කපා ඉවත් කරන්න.

4. පරීක්ෂාකාරීව මුළු ලකුණු ගණන එකතු කොට මුල් පිටුවේ නියමිත ස්ථානයේ ලියන්න. උත්තරපත්‍රයේ සෑම උත්තරයකටම දී ඇති ලකුණු ගණන උත්තරපත්‍රයේ පිටු පෙරළමින් නැවත එකතු කරන්න. එම ලකුණ ඔබ විසින් මුල් පිටුවේ එකතුව ලෙස සටහන් කර ඇති මුළු ලකුණට සමාන දැයි නැවත පරීක්ෂා කර බලන්න.

**ලකුණු ලැයිස්තු සකස් කිරීම :**

සියලු ම විෂයන්හි අවසාන ලකුණු ඇගයීම් මණ්ඩලය තුළදී ගණනය කරනු නොලැබේ. එබැවින් එක් එක් පත්‍රයට අදාළ අවසාන ලකුණු වෙන වෙනම ලකුණු ලැයිස්තුවලට ඇතුළත් කළ යුතු ය. I පත්‍රය සඳහා බහුවරණ පිළිතුරු පත්‍රයක් පමණක් ඇති විට ලකුණු ලැයිස්තුවට ලකුණු ඇතුළත් කිරීමෙන් පසු අකුරෙන් ලියන්න. අනෙකුත් උත්තරපත්‍ර සඳහා විස්තර ලකුණු ඇතුළත් කරන්න. 51 චිත්‍ර විෂයයේ I, II හා III පත්‍රවලට අදාළ ලකුණු වෙන වෙනම ලකුණු ලැයිස්තුවල ඇතුළත් කර අකුරෙන් ද ලිවිය යුතු වේ.

***

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்

අ.පො.ස. (උ.පෙළ) විභාගය/க.பொ.த. (உயர் தர)ப் பரீட்சை- 2020

නව නිර්දේශය/ பழைய பாடத்திட்டம

විෂයය අංකය / பாட இலக்கம் **33**

විෂයය / பாடம் **ගිණුම්කරණය**

ලකුණු දීමේ පටිපාටිය/புள்ளி வழங்கும் திட்டம்
I පත්‍රය /பத்திரம் I

| ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. |
|---|---|---|---|---|---|
| 01. | 4 | 11. | 4 | 21. | 3 |
| 02. | 3 | 12. | 2 | 22. | 4 |
| 03. | 2 | 13. | 4 | 23. | 5 |
| 04. | 4 | 14. | 2 | 24. | 2 |
| 05. | 1 | 15. | 4 | 25. | 3 |
| 06. | 2 | 16. | 4 | 26. | 5 |
| 07. | 4 | 17. | 4 | 27. | 4 |
| 08. | 4 | 18. | 3 | 28. | 1 |
| 09. | 4 | 19. | 2 | 29. | 4 |
| 10. | 3 | 20. | 2 | 30. | 5 |

✪ විශේෂ උපදෙස්/ விசேட அறிவுறுத்தல் :

එක් පිළිතුරකට/ ஒரு சரியான விடைக்கு ලකුණු 04 බැගින්/புள்ளி வீதம்

මුළු ලකුණු/ மொத்தப் புள்ளிகள் 04 × 30 = 120

31. A - T / සත්‍ය (01)
B - T / සත්‍ය (01)
C - T / සත්‍ය (01)
D - F / අසත්‍ය (01)

32. (අ) රු. 270 000 (02)
(ආ) රු. 180 000 (02)

33. A - ගැණුම් ජර්නලය (01)
B - පොදු ජර්නලය (01)
C - විකුණුම් ජර්නලය (01)
D - මුදල් ගෙවීම් ජර්නලය (01)

34. A රු. 90 000 වැඩිවීම/ (+) (02)
B රු. 50 000 අඩුවීම/ (-) (02)

35. (1) දේපළ, පිරියත සහ උපකරණ ප්‍රත්‍යාගණනය කිරීම
(2) තොග පිරිවැය සහ ශුද්ධ උපලබ්ධි අගයෙන් වඩා අඩු අගයට සටහන් කිරීම
(3) භාවිත අයිතිය සහිත වත්කම් සහ කල්බදු වගකීම් ගෙවන වාරික වල වර්තමාන අගයට හඳුනා ගැනීම
(ඕනෑම නිවැරදි අයිතමකට ලකුණු 02 බැගින් x 2) (04)

36.

| | රු | |
|---|---|---|
| A - නොඉපයූ ආදායම් ගිණුම /අත්තිකාරම් ගිණුම | හර 60 000 | |
| වෙළෙඳ ලැබිය යුතු / ණයගැති පාලන ගිණුම | හර 120 000 | |
| විකුණුම් | බැර 180 000 | (02) |
| | | |
| B - අලෙවි ප්‍රවර්ධන වියදම් ගිණුම | හර 30 000 | |
| ඉදිරියට කළ අලෙවි ප්‍රවර්ධන වියදම් ගිණුම | බැර 30 000 | (02) |
| හෝ | | |
| ඉදිරියට කළ අලෙවි ප්‍රවර්ධන වියදම් ගිණුම | හර 60 000 | |
| අලෙවි ප්‍රවර්ධන ගිණුම වියදම් | හර 30 000 | |
| මුදල් ගිණුම | බැර 90 000 | |

37. A - වියදම් (01)
B - හිමිකම් (01)
C - වගකීම් (01)
D - වත්කම් (01)

38. A - F / අසත්‍ය (01)
B - T / සත්‍ය (01)
C - T / සත්‍ය (01)
D - F / අසත්‍ය (01)

39. A - ප්‍රාග්ධනයට දායක වීම සඳහා ප්‍රතිලාභ/ ප්‍රාග්ධනයේ ආවස්ථික පිරිවැය / ප්‍රාග්ධන දායක අනුපාතය සහ ලාභාලාභ අනුපාතය වෙනස් වන විට (01)
B - කළමනාකරණයට දායක වන බැවින් (01)
C - අවදානම දරන බැවින් (02)

40. A - T / සත්‍ය (01)
B - F / අසත්‍ය (01)
C - F / අසත්‍ය (01)
D - T / සත්‍ය (01)

41. (අ) ආයෝජකයන්, ණය සපයන්නන්, වෙනත් ණය හිමියන් (02)
(ආ) අතීත, වර්ථමාන ආර්ථික සම්පත් (02)

42. (අ) රු. 394 500 (02)
(ආ) රු. 975 500 (02)

43. (අ) රු. 2 500 000 (02)
(ආ) රු. 1 200 000 (02)

44. A - T / සත්‍ය (01)
B - F / අසත්‍ය (01)
C - T / සත්‍ය (01)
D - T / සත්‍ය (01)

45. (අ) රු. 850 000 (02)
    (ආ) 1.7: 1 (02)

46. A - F / අසත්‍ය (01)
    B - T / සත්‍ය (01)
    C - F / අසත්‍ය (01)
    D - T / සත්‍ය (01)

47. A - ද්‍රව්‍ය / ගබඩා අධියාචනා පත්‍රය (MRN/SRN) (01)
    B - භාණ්ඩ ලැබීම් තුණ්ඩුව (GRN) (01)
    C - කාර්යය තුණ්ඩුව / කාර්යය පත්‍රය / කාළ පත්‍රිකාව (01)
    D - මනු කියවීමේ පත්‍රය/ විදුලිබිල (01)

48. A - 3 000 Kg (02)
    B - 7 000 Kg (02)

49. (අ) රු. 500 (02)
    (ආ) රු. 60 000 (01)
    (ඉ) 120 (පුද්ගලයන්) (01)

50. (අ) රු. 700 000 (02)
    (ආ) රු. 400 000 (02)

(ලකුණු 80)

| | | | |
|---|---|---|---|
| ප්‍රශ්න අංක | **1 - 30** | = | ලකුණු **120** |
| | **31 - 50** | = | ලකුණු **80** |
| | | | ලකුණු **200** |

ප්‍රශ්න අංක 1

(1)

සීමිත විනුග පොදු සමාගම
2020.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ලාභ හෝ අලාභ සහ වෙනත් විස්තීරණ ආදායම් ප්‍රකාශනය (01)

| | සටහන් | රු.'000 | | |
|---|---|---|---|---|
| විකුණුම් | | 79 000 | (01) | |
| විකුණුම් පිරිවැය | | (51 038) | (02) | WR 1 |
| දළ ලාභය | | (01) 27 962 | | |
| බෙදාහැරීමේ පිරිවැය | | (5 500) | (02) | WR 2 |
| පරිපාලන වියදම් | | (5 487) | (03) | WR 3 |
| වෙනත් වියදම් | | (2 250) | (03) | WR 4 |
| මූල්‍ය පිරිවැය | | (1 900) | | |
| **බදු පෙර ලාභය** | 01 | 12 825 | | |
| ආදායම් බදු වියදම | 02 | (770) | (02) | |
| **කාලච්ඡේදය සඳහා ලාභය** | | (01) **12 055** | | |
| **වෙනත් විස්තීරණ ආදායම්** | | | | |
| ප්‍රත්‍යාගණන අතිරික්තයේ වෙනස්වීම | | (3 500) | (01) | |
| **මුළු විස්තීරණ ආදායම** | | (01) **8 555** | | |

සටහන් **01:** වර්ෂය සඳහා ලාභය ගණනය කර ඇත්තේ පහත වියදම් ද අඩු කිරීමෙන් පසුව ය.

| | රු.'000 |
|---|---|
| අධ්‍යක්ෂවරුන්ගේ වේතන | 900 |
| දේපළ, පිරියත සහ උපකරණ මත ක්ෂය | 3 200 |
| ගනුදෙනුකරුවෙකු සඳහා වන්දි | 550 |
| විගණන ගාස්තු | 275 |
| මූල්‍ය පිරිවැය | 1 900 |

(වටිනාකම සහිතව ඕනෑම අයිතමයකට ලකුණු 01 බැගින් x 2) (02)

| **සටහන 02: ආදායම් බදු සඳහා ප්‍රතිපාදන** | රු.'000 | |
|---|---|---|
| ප්‍රවර්තන වර්ෂයේ බදු සඳහා ප්‍රතිපාදන | 650 | 01 |
| පසුගිය වර්ෂය සඳහා ඌණ ප්‍රතිපාදන | 120 | 01 |
| **එකතුව** | **770** | |

**පෙරවැඩ (WR) – (රු.'000):**

**WR 1 විකුණුම් පිරිවැය**

| | | | |
|---|---|---|---|
| ශේෂය | | 51 300 | |
| FIFO ක්‍රමය මත තොගය | (6 750) 01 | | |
| හරිත සාමාන්‍ය ක්‍රමය මත තොගය | 6 488 01 | 262 | |
| **එකතුව** | | **51 038** | |

**WR 2 බෙදාහැරීමේ පිරිවැය**

| | | | |
|---|---|---|---|
| ශේෂය | | 5 600 | |
| ප්‍රචාරණ වියදම් | | 350 | 01 |
| මෝටර් රථ ක්ෂය ප්‍රතිවර්ත කිරීම | (1 550) | | |
| සංශෝධිත මෝටර් රථ ක්ෂය | 1 100 | (450) | 01 |
| **එකතුව** | | **5 500** | |

**WR 3 පරිපාලන වියදම්**

| | | | |
|---|---|---|---|
| ශේෂය | | 6 462 | |
| අධ්‍යක්ෂ වේතන අඩුවීම | | (350) | 01 |
| කල්බදු සෘජු පිරිවැය | | (500) | 01 |
| ගොඩනැගිලි ක්ෂය ප්‍රතිවර්ත කිරීම | (725) | | |
| සංශෝධිත ගොඩනැගිලි ක්ෂය | 600 | (125) | 01 |
| **එකතුව** | | **5 487** | |

**WR 4 වෙනත් වියදම්**

| | | | |
|---|---|---|---|
| ශේෂය | | 1 500 | |
| වන්දි සඳහා ප්‍රතිපාදන ප්‍රතිවර්ත කිරීම | (800) 01 | | |
| වන්දි සඳහා සංශෝධිත ප්‍රතිපාදන | 550 01 | 250 | |
| ප්‍රත්‍යාගණන අලාභය | | 1 000 | 01 |
| **එකතුව** | | **2 250** | |

*(ඉහත පෙරවැඩ ගිණුම් ලෙස ඉදිරිපත් කළ හැකිය.)*

**(ලකුණු 20)**

**(2)**

**සීමිත විනුග පොදු සමාගම**

**2020.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හිමිකම් වෙනස්වීමේ ප්‍රකාශනය**

(රු.'000)

| | ප්‍රකාශිත ප්‍රාග්ධනය - සාමාන්‍ය කොටස් | ප්‍රත්‍යාගණන සංචිත | රඳවාගත් ඉපැයුම් | එකතුව |
|---|---|---|---|---|
| 2019.04.01 දිනට ශේෂය | 25 000 | 3 500 | 5 650 | 34 150 |
| මුළු විස්තීරණ ආදායම | | (01) (3 500) | (01) 12 055 | 8 555 |
| **2020.03.31 දිනට ශේෂය** | **25 000** | **-** | **17 705** | **42 705** |

**(ලකුණු 02)**

(3)

**සීමිත විනුග පොදු සමාගම**
**2020.03.31 දිනට මූල්‍ය තත්ත්ව ප්‍රකාශනය** (01)

| | සටහන් | රු.'000 | |
|---|---|---|---|
| **ජංගම නොවන වත්කම්** | | | |
| දේපළ, පිරියත සහ උපකරණ | 03 | (01) 45 575 | |
| භාවිත අයිතිය සහිත වත්කම | 04 | 13 100 | (02) |
| **ජංගම වත්කම්** | | | |
| තොගය | | 6 750 | (01) |
| වෙළෙඳ ලැබිය යුතු දෑ | | 5 400 | |
| ලැබිය යුතු ආදායම් බදු | 05 | 80 | (01) |
| මුදල් සහ මුදල් සමාන දෑ | | 1 250 | |
| **මුළු වත්කම්** | | **72 155** | |
| **හිමිකම** | | | |
| ප්‍රකාශිත ප්‍රාග්ධනය-සාමාන්‍ය කොටස් | | 25 000 | |
| **සංචිත** | | | |
| රඳවාගත් ඉපැයුම් | | (01) 17 705 | |
| **ජංගම නොවන වගකීම්** | | | |
| කල්බදු වගකීම | | 10 077 | (01) |
| **ජංගම වගකීම්** | | | |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ | | 15 500 | |
| කල්බදු වගකීම | | 2 523 | (01) |
| නොඉපයූ ආදායම | | 500 | (01) |
| වෙනත් ගෙවිය යුතු දෑ | 06 | 850 | (02) |
| **මුළු හිමිකම සහ වගකීම්** | | **72 155** | |

**සටහන 03 : දේපළ, පිරියත සහ උපකරණ** (රු.'000)

| පිරිවැය/අගය | ඉඩම් | ගොඩනැගිලි | මෝටර් රථ | කාර්යාල උපකරණ | එකතුව |
|---|---|---|---|---|---|
| 2019.04.01 දිනට ශේෂය | 22 500 | 9 500 | 9 500 | 7 500 | 49 000 |
| එකතු කිරීම්/ප්‍රත්‍යාගණන | | 5 000 (01) | 6 000 (01) | | 11 000 |
| ඉවත් කිරීම්/ප්‍රත්‍යාගණන අලාභ | (4 500) (01) | | | | (4 500) |
| 2020.03.31 දිනට ශේෂය | 18 000 | 14 500 | 15 500 | 7 500 | 55 500 |
| **සමුච්චිත ක්ෂය** | | | | | |
| 2019.04.01 දිනට ශේෂය | | (01) 3 775 | 1 950 | 1 000 | 6 725 |
| වර්ෂය සඳහා ක්ෂය | | (02) 600 | 1 100 | 1 500 | 3 200 |
| 2020.03.31 දිනට ශේෂය | | 4 375 | 3 050 | 2 500 | 9 925 |
| **2020.03.31 දිනට ධාරණ වටිනාකම** | **18 000** | **10 125** | **12 450** | **5 000** | **45 575** |

**සටහන 04 : භාවිත අයිතිය සහිත වත්කම්** (රු.'000)

| පිරිවැය | ගොඩනැගිලි | |
|---|---|---|
| 2019.04.01 දිනට ශේෂය | - | |
| එකතු කිරීම්: | | |
| හඳුනාගැනීමේ දී පිරිවැය | 12 600 | 01 |
| අලුත්වැඩියා වියදම් | 500 | 01 |
| 2020.03.31 දිනට ශේෂය | 13 100 | |
| **සමුච්චිත ක්ෂය** | | |
| 2019.04.01 දිනට ශේෂය | - | |
| එකතු කිරීම් | - | |
| 2020.03.31 දිනට ශේෂය | - | |
| **2020.03.31 දිනට ධාරණ වටිනාකම** | **13 100** | |

**සටහන 05 :** ලැබිය යුතු ආදායම් බදු

| | | |
|---|---|---|
| වර්ෂය සඳහා ගෙවූ බදු | | 1 250 |
| 2019.04.01 දිනට ශේෂය | | (400) |
| ප්‍රවර්තන වර්ෂය සඳහා ආදායම් බදු ප්‍රතිපාදන | 01 | (770) |
| **එකතුව** | | **80** |

**සටහන 06:** වෙනත් ගෙවිය යුතු දෑ

| | | |
|---|---|---|
| වන්දි සඳහා ප්‍රතිපාදන | 550 | 01 |
| උපචිත පරිපාලන වියදම් | 300 | 01 |
| **එකතුව** | **850** | |

(ලකුණු 18)

(මුළු ලකුණු 40)

ප්‍රශ්න අංක 1

| 1 | 2 | 3 | එකතුව |
|---|---|---|---|
| 20 | 02 | 18 | 40 |

ප්‍රශ්න අංක 2

(අ) (1) 2020.03.31 දිනට FIFO ක්‍රමය මත තොගය **රු.15 100** (06)

පෙරවැඩ:

| දිනය | විස්තරය | ප්‍රමාණය | මිල (රු.) | එකතුව (රු.) |
|---|---|---|---|---|
| ජනවාරි - 01 | තොගය | 500 | 20.00 | 10 000 01 |
| ජනවාරි - 05 | ගැනුම් | 300 | 24.00 | 7 200 01 |
| ජනවාරි - 12 | විකුණුම් | (400) | 20.00 | (8 000) 01 |
| ජනවාරි - 15 | ගැනුම් | 300 | 25.00 | 7 500 01 |
| ජනවාරි - 25 | විකුණුම් | (300) | 100x20 + 200x24 | (6 800) 01 |
| ජනවාරි - 31 | ගැනුම් | 200 | 26.00 | 5 200 01 |
| | **තොගය** | **600** | | **15 100** |

හෝ

| දිනය | විස්තරය | ප්‍රමාණය | මිල (රු.) | එකතුව (රු.) |
|---|---|---|---|---|
| ජනවාරි - 05 | ගැනුම් | 100 | 24.00 | 2 400 02 |
| ජනවාරි - 15 | ගැනුම් | 300 | 25.00 | 7 500 02 |
| ජනවාරි - 31 | ගැනුම් | 200 | 26.00 | 5 200 02 |
| | **තොගය** | **600** | | **15 100** |

(2) FIFO ක්‍රමය මත විකුණුම් පිරිවැය **රු.14 800** (02)

පෙරවැඩ:

| දිනය | විස්තරය | ප්‍රමාණය | මිල (රු.) | එකතුව (රු.) |
|---|---|---|---|---|
| ජනවාරි - 12 | විකුණුම් | 400 | 20.00 | 8 000 01 |
| ජනවාරි - 25 | විකුණුම් | 300 | 100 x20 + 200x 24 | 6 800 01 |
| | **විකුණුම් පිරිවැය** | **700** | | **14 800** |

හෝ

ආරම්භක තොගය 10 000 01 + ගැනුම් 19 900 01 - අවසාන තොගය 15 100 = රු. 14 800

(3) භරිත සාමාන්‍ය ක්‍රමය මත විකුණුම් පිරිවැය රු.**15 500** (04)

පෙරවැඩ:

| දිනය | විස්තරය | ප්‍රමාණය | මිල (රු.) | එකතුව (රු.) |
|---|---|---|---|---|
| ජනවාරි - 01 | තොගය | 500 | 20.00 | 10 000 |
| ජනවාරි - 05 | ගැනුම් | 300 | 24.00 | 7 200 |
| | | 800 | | 17 200 |
| ජනවාරි - 12 | විකුණුම් | (400) | 21.50 | (8 600) 02 |
| ජනවාරි - 15 | ගැනුම් | 300 | 25.00 | 7 500 |
| | | 700 | | 16 100 |
| ජනවාරි - 25 | විකුණුම් | (300) | 23.00 | (6 900) 02 |
| ජනවාරි - 31 | ගැනුම් | 200 | 26.00 | 5 200 |
| | තොගය | 600 | | 14 400 |
| **විකුණුම් පිරිවැය (8 600+6 900)** | | | | **15 500** |

හෝ

ආරම්භක තොගය 10 000 01 + ගැනුම් 19 900 01 - තොගය 14 400 02 = **රු.15 500**

**(ලකුණු 12)**

(ආ)

(1) පොදු කාර්ය පිරිවැය විශ්ලේෂණ පත්‍රිකාව (රු.'000)

| විස්තරය | විභජන පදනම | එකතුව | නිෂ්පාදන දෙපාර්තමේන්තු | | සේවා දෙපාර්තමේන්තුව |
|---|---|---|---|---|---|
| | | | එකලස් | නිමැවුම් | ගබඩාව |
| වක්‍ර වේතන | සේවක සංඛ්‍යාව/ (20:12:3) (01) | 700 | 400 | 240 | 60 (01) |
| නිෂ්පාදන කළමනාකාර වැටුප් | කළමනාකරුවන් සංඛ්‍යාව/ (2:1) (01) | 900 | 600 | 300 (01) | |
| කුලිය | භූමි ප්‍රමාණය/(3:2:1) (01) | 960 | 480 | 320 | 160 (01) |
| විදුලිය | කිලෝවොට් පැය/(4:2:1) (01) | 350 | 200 | 100 | 50 (01) |
| යන්ත්‍ර මත ක්ෂය | යන්ත්‍ර පිරිවැය /(3:2) (01) | 800 | 480 | 320 (01) | |
| වෙනත් නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය | සෘජු (01) | 290 | 190 | 70 | 30 (01) |
| | | **4 000** | **2 350** | **1 350** | **300** |
| ගබඩා පොදු කාර්ය පිරිවැය නැවත විභජනය | සමාන | | (01) 150 | (01) 150 | (300) |
| **මුළු නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය** | | **4 000** | **2 500** | **1 500** | |

(ලකුණු 14)

(2) යන්ත්‍ර පැයකට පොදු කාර්ය පිරිවැය අන්තර්ග්‍රහන අනුපාතය (රු.) එකලස් **50** (02) නිමැවුම් **25** (02)

| | | |
|---|---|---|
| **පෙරවැඩ:** | | |
| මුළු නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය (රු.'000) | 01 2 500 | 01 1 500 |
| යන්ත්‍ර පැය ගණන ('000) | 50 01 | 60 01 |
| පොදු කාර්ය පිරිවැය අන්තර්ග්‍රහන අනුපාතය (රු.) | **50** | **25** |

(ලකුණු 04)

(3) මුළු පරිපාලන පොදු කාර්ය පිරිවැය (රු.'000) **250** (03)

| **පෙරවැඩ:** | **රු.'000** |
|---|---|
| වක්‍ර වේතන | 50 |
| කුලිය | 120 01 |
| විදුලිය | 50 01 |
| කාර්යාල උපකරණ ක්ෂය | 30 01 |
| **එකතුව** | **250** |

(ලකුණු 03)

(4) 'A' භාණ්ඩයේ නිෂ්පාදන පිරිවැය = <u>ඒකකයට රු. 400</u> (03)

| | | | |
|---|---|---|---|
| **පෙරවැඩ:** | | | රු. |
| ප්‍රාථමික පිරිවැය | | | 225 01 |
| නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය: | | | |
| එකලස් | (2 X 50) | 01 100 | |
| නිමැවුම් | (3 X 25) | 01 75 | |
| | | | 175 |
| මුළු නිෂ්පාදන පිරිවැය | | | **400** |

**(ලකුණු 03)**

(5) 'B' භාණ්ඩයේ විකුණුම් මිල = <u>ඒකකයක මිල රු. 700</u> (04)

| | | | |
|---|---|---|---|
| **පෙරවැඩ:** | | | රු. |
| ප්‍රාථමික පිරිවැය | | | 310 01 |
| නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය: | | | |
| එකලස් | (4 X 50) | 01 200 | |
| නිමැවුම් | (2 X 25) | 01 50 | |
| | | | 250 |
| මුළු නිෂ්පාදන පිරිවැය | | | 560 |
| ලාභ ආන්තිකය | | | 01 140 |
| විකුණුම් මිල | | | **700** |

**(ලකුණු 04)**

**(ලකුණු 28)**

**(මුළු ලකුණු 40)**

**ප්‍රශ්න අංක 2**

| කොටස | 1 | 2 | 3 | 4 | 5 | එකතුව |
|---|---|---|---|---|---|---|
| (අ) | 06 | 02 | 04 | - | - | 12 |
| (ආ) | 14 | 04 | 03 | 03 | 04 | 28 |
| | | | | | | **40** |

ප්‍රශ්න අංක 3

(1)

(රු.000)

| | දේපළ, පිරියත සහ උපකරණ | තොග | වෙළෙඳ ලැබිය යුතු දෑ | කලින් ගෙවීම් සහ ගෙවූ අත්තිකාරම් | මුදල් | දිගු කාලීන ණය | වෙළෙඳ ගෙවිය යුතු දෑ | උපචිත වියදම් | ලද අත්තිකාරම් | හිමිකම | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| ආරම්භක ශේෂ | 900 | 160 | 130 | 274 | 100 | 400 | 90 | 12 | 10 | 1 052 | (02) * |
| ගනුදෙනු: | | | | | | | | | | | |
| (i) | +360 | | | | | +360 | | | | | (01) |
| (ii) | | +130 | | | -60 | | +70 | | | | (02) |
| (iii) | | -86 | | | +140 | | | | | +54 | (02) |
| (iv) | | | | | -12 | | | | | -12 | (01) |
| (v) | | | -50 | | +45 | | | | | -5 | (02) |
| (vi) | | -30 | | | +40 | | | | -10 | +20 | (03) |
| (vii) | | -6 | | | | | | | | -6 | (01) |
| (viii) | | | | | | | | | | -4<br>+4 | (01) |
| (ix) | | | | | -67 | -50 | | | | -17 | (02) |
| (x) | | -154 | +294 | | | | | | | +140 | (02) |
| (xi) | | | | -34 | -50 | | | | | -84 | (02) |
| (xii) | | | | | -12 | | | -12 | | | (01) |
| | | | | | | | | +11 | | -11 | (01) |
| (xiii) | | -8 | | | +3 | | | | | -5 | (02) |
| (xiv) | | | | | +14 | | | | | +14 | (01) |
| (xv) | | | | -20 | | | | | | -20 | (01) |
| අවසාන ශේෂ | (03) ** **1 260** | **6** | **374** | **220** | **141** | **710** | **160** | **11** | **0** | **1 120** | |

*(ආරම්භක ශේෂ දෙකක් සඳහා ලකුණු 01 බැගින්, ශේෂ 10 සඳහා උපරිම ලකුණු 02 යි)

** (අවසාන ශේෂ දෙකක් සඳහා ලකුණු 01 බැගින්, ශේෂ 10 සඳහා උපරිම ලකුණු 03 යි)

**(ලකුණු 30)**

(2) 2020.01.31 දිනෙන් අවසන් මාසය සඳහා ආදායම් ප්‍රකාශනය (රු.000)

| | | | |
|---|---|---|---|
| විකුණුම් | 484 | (02) | (140 + 50 +294) * |
| අඩුකළා: විකුණුම් පිරිවැය | (270) | (02) | (86+30 +154) */{160+130-6-8-6}* |
| දළ ලාභය | 214 | | *(මෙම සංඛ්‍යා තුනම නිවැරදි නම් ලකුණු 02, සංඛ්‍යා 2ක් පමණක් නිවැරදි නම් ලකුණු 01) |
| **වෙනත් ආදයම්:** | | | |
| කපාහළ බොල්ණය ආපසු ලැබීම් | 14 | (01) | |
| **වියදම්:** | | | |
| වැටුප් | (84) | | |
| විදුලිය | (11) | ** (04) | **(ඕනෑම නිවැරදි අයිතම දෙකකට ලකුණු 01 බැගින්, උපරිම ලකුණු 04 යි) |
| දුන් වට්ටම් | (5) | | |
| කුලිය | (20) | | |
| තොග හානි | (5) | | |
| ණය පොලී | (17) | | |
| ගිනි රක්ෂණ වාරිකය | (4) | | |
| පරිත්‍යාග | (6) | | |
| **ශුද්ධ ලාභය** | (01) 76 | | |

**(ලකුණු 10)**

**(මුළු ලකුණු 40)**

**ප්‍රශ්න අංක 3**

| 1 | 2 | එකතුව |
|---|---|---|
| 30 | 10 | 40 |

ප්‍රශ්න අංක 4

(අ)

(1) 2020.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ආදායම් ප්‍රකාශනය

| | රු. | රු. |
|---|---|---|
| **ආදායම:** | | |
| වාර්ෂික සාමාජික ගාස්තු | 330 000 (02) | |
| යාවජීව සාමාජික ගාස්තු | 40 000 (01) | |
| පරිත්‍යාග - ක්‍රීඩා උපකරණ | 150 000 (01) | 520 000 |
| **වියදම්:** | | |
| ව්‍යාපෘති වාර්තාව සකස් කිරීමේ පිරිවැය | 86 000 (02) | |
| සාමාජික ගාස්තු සඳහා දුන් වට්ටම් | 24 000 (01) | |
| වෙනත් මෙහෙයුම් වියදම් | 250 000 (01) | (360 000) |
| **අතිරික්තය** | | (01) 160 000 |

පෙරවැඩ:

6000 01 x 01 55

(ලකුණු 09)

(2) 2020.03.31 දිනට හිමිකම:

| | | Rs. | |
|---|---|---|---|
| සමුච්චිත අරමුදල: | | | |
| ආරම්භක ශේෂය | | 300 000 | (01) |
| අතිරික්තය | (01) | 160 000 | |
| | | 460 000 | |
| යාවජීව සාමාජික අරමුදල | | 160 000 | (01) |
| ක්‍රීඩා උපකරණ අරමුදල | | 250 000 | (01) |
| ගොඩනැගිලි අරමුදල | | 1 000 000 | (01) |
| | | 1 870 000 | |

(ලකුණු 05)

(ලකුණු 14)

(ආ)

(1) ගැනුම් ජ'නලය (රු.'000)

| දිනය | විස්තරය | වටිනාකම | VAT | එකතුව |
|---|---|---|---|---|
| | සමන් ට්‍රේඩර්ස් | 500* | 40* | 540* |
| | අමල් ට්‍රේඩර්ස් | 400* | 32* | 432* |
| | මහේෂ් ට්‍රේඩර්ස් | 200* | 16* | 216* |
| | **එකතුව** | **1 100** | **88** | **1 188** |

(03)*

*(එකතුන් හැර වෙනත් ඕනෑම නිවැරදි අයිතම තුනකට 01 බැගින් අයිතම නමය සඳහා උපරිම ලකුණු 03 යි)

මුදල් ලැබීම් ජ'නලය (රු.'000)

| දිනය | විස්තරය | වට්ටම් | වටිනාකම | විශ්ලේෂණය | | |
|---|---|---|---|---|---|---|
| | | | | විකුණුම් | ණයගැතියෝ | VAT |
| | නාමල් ට්‍රේඩර්ස් | 5* | 75 | | 75* | |
| | ගමගේ ට්‍රේඩර්ස් | | 50 | | 50* | |
| | සුමුදු ට්‍රේඩර්ස් | 10* | 500 | | 500* | |
| | අත්පිට විකුණුම් | | 972 | 900* | | 72* |
| | **එකතුව** | **15** | **1 597** | **900** | **625** | **72** |

(03)*

*(වටිනාකම් තීරුවේ ඇති අයිතම සහ එකතුන් හැර අනිකුත් ඕනෑම නිවැරදි අයිතම දෙකකට ලකුණු 01 බැගින් අයිතම හත සඳහා - උපරිම ලකුණු 03 යි)

මුදල් ගෙවීම් ජ'නලය (රු.'000)

| දිනය | විස්තරය | වට්ටම් | වටිනාකම | විශ්ලේෂණය | | |
|---|---|---|---|---|---|---|
| | | | | ණය හිමියෝ | වියදම් | වෙනත් |
| | සමන් ට්‍රේඩර්ස් | 10* | 290 | 290* | | |
| | අමල් ට්‍රේඩර්ස් | | 200 | 200* | | |
| | මහේෂ් ට්‍රේඩර්ස් | | 150 | 150* | | |
| | සේවක වැටුප් | | 552 | | 552* | |
| | EPF ප්‍රේෂණ | | 120 | | | 120* |
| | ETF ප්‍රේෂණ | | 18 | | | 18* |
| | වෙනත් වියදම් | | 250 | | 250* | |
| | **එකතුව** | **10** | **1 580** | **640** | **802** | **138** |

(04)*

*(වටිනාකම් තීරුවේ ඇති අයිතම සහ එකතුන් හැර ඕනෑම නිවැරදි අයිතම දෙකකට ලකුණු 01 බැගින්, අයිතම අට සඳහා - උපරිම ලකුණු 04 යි)

**(ලකුණු 10)**

(2) **මුදල් ගිණුම (රු.'000)**

| හර | | බැර | |
|---|---|---|---|
| ශේෂය ඉ/ගෙ | 50 | ණයහිමි පාලන | 640* |
| ණයගැති පාලන | 625* | වැටුප් පාලන | 552* |
| විකුණුම් | 900* | ගෙවිය යුතු EPF | 120* |
| VAT පාලන | 72* | ගෙවිය යුතු ETF | 18* |
| | | වෙනත් වියදම් | 250* |
| | | ශේෂය ප/ගෙ | 67 |
| | **1 647** | | **1 647** |

*(ශේෂ හැර ඕනෑම නිවැරදි අයිතම දෙකකට ලකුණු 01 බැගින් අයිතම අට සඳහා, උපරිම ලකුණු 04 යි) (04)

**ණයගැති පාලන ගිණුම (රු.'000)**

| හර | | බැර | |
|---|---|---|---|
| ශේෂය ඉ/ගෙ | 300 | මුදල් | 625* |
| විකුණුම් | 750* | දුන් වට්ටම් | 15* |
| VAT | 60* | ශේෂය ප/ගෙ | 470 |
| | **1 110** | | **1 110** |

*(ශේෂ හැර ඕනෑම නිවැරදි අයිතමයක් සඳහා ලකුණු 01 බැගින්, උපරිම ලකුණු 03 යි) (03)

**VAT පාලන ගිණුම (රු.'000)**

| හර | | බැර | |
|---|---|---|---|
| | | ශේෂය ඉ/ගෙ | 40 |
| ණයහිමි පාලන | 88* | ණයගැති පාලන | 60* |
| ශේෂය ප/ගෙ | 84 | මුදල් | 72* |
| | **172** | | **172** |

* (ශේෂ හැර ඕනෑම නිවැරදි අයිතමයක් සඳහා ලකුණු 01 බැගින්, උපරිම ලකුණු 03 යි) (03)

**වැටුප් පාලන ගිණුම (රු.'000)**

| | හර | | බැර |
|---|---|---|---|
| මුදල් | 552* | වැටුප් | 600* |
| ගෙවිය යුතු EPF | 48* | | |
| | **600** | | **600** |

*(ඕනෑම නිවැරදි අයිතමයක් සඳහා ලකුණු 01 බැගින්, උපරිම ලකුණු 03 යි) (03)

**ගෙවිය යුතු EPF ගිණුම (රු.'000)**

| | හර | | බැර |
|---|---|---|---|
| මුදල් | 120* | ශේෂය ඉ/ගෙ | 120 |
| | | වැටුප් පාලන | 48* |
| ශේෂය ප/ගෙ | 120 | EPF වියදම් | 72* |
| | **240** | | **240** |

*(ශේෂ හැර ඕනෑම නිවැරදි අයිතමයකටම ලකුණු 01 බැගින්, උපරිම ලකුණු 03 යි) (03)

**(ලකුණු 16)**

**(ලකුණු 26)**

**(මුළු ලකුණු 40)**

**ප්‍රශ්න අංක 4**

| කොටස | 1 | 2 | එකතුව |
|---|---|---|---|
| (අ) | 09 | 05 | 14 |
| (ආ) | 10 | 16 | 26 |
| | | | **40** |

ප්‍රශ්න අංක 5

(අ)

(1) 2020.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ආදායම් ප්‍රකාශනය (රු.000)

| | | |
|---|---|---|
| විකුණුම් | | 6 000 |
| විකුණුම් පිරිවැය | | ( 1 750) (01) |
| දළ ලාභය | | 4 250 |
| මෙහෙයුම් වියදම් | | (2 560) (01) |
| බලපත්‍ර ගාස්තු | | (10) (01) |
| ණය පොලී | | (30) (02) WR1 |
| **ශුද්ධ ලාභය** | | **1 650** |
| *ප්‍රාග්ධන පොලී:* | | |
| නෙතු | 200 (01) | |
| මුතු | 100 (01) | (300) |
| *වැටුප්:* | | |
| නෙතු | 600 | |
| මුතු | 600 | (1 200) (01) |
| *ලාභ කොටස්:* | | |
| නෙතු | (01) 100 | |
| මුතු | (01) 50 | (150) |

| පෙරවැඩ **(WR1):** ණය පොලී | | | |
|---|---|---|---|
| 2019.04.01 සිට 2019.09.30 | (800x5%x6/12) | 20 | 01 |
| 2019.10.01 සිට 2020.03.31 | (400x5%x6/12) | 10 | 01 |
| | | **30** | |

**(ලකුණු 10)**

(2) ප්‍රාග්ධන ගිණුම් (රු.000)

| | නෙතු | මුතු | ගංගා | | නෙතු | මුතු | ගංගා |
|---|---|---|---|---|---|---|---|
| ප්‍රාග්ධන (කීර්තිනාමය) | 750 | 450 | 300 (01) | ශේෂය ඉ/ගෙ | 2 000 | 1 000 | - |
| ශේෂය ප/ගෙ | 2 250 | 1 050 | 2 700 | මුදල් | | | 3 000 (01) |
| | | | | ප්‍රාග්ධන (කීර්තිනාමය) | 1 000 | 500 (01) | |
| | **3 000** | **1 500** | **3 000** | | **3 000** | **1 500** | **3 000** |

(ලකුණු 03)

ජංගම ගිණුම් (රු.000)

| | නෙතු | මුතු | | නෙතු | මුතු |
|---|---|---|---|---|---|
| භාණ්ඩ ගැනිලි | 60 | 40 (01) | ශේෂය ඉ/ගෙ | 400 | 200 |
| රක්ෂණ වාරිකය | 500 (01) | | බලපත්‍ර ගාස්තු | 10 (01) | |
| මුදල් ගැනිලි | | 40 (01) | ප්‍රාග්ධන පොලී | (01) 200 | 100 |
| ශේෂය ප/ගෙ | 750 | 870 | වේතන | (01) 600 | 600 |
| | | | ලාභ කොටස් | (01) 100 | 50 |
| | **1 310** | **950** | | **1 310** | **950** |

(ලකුණු 07)

(ලකුණු 20)

(ආ)

**සීමිත අශාන් පොදු සමාගම**
**2020.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා මුදල් ප්‍රවාහ ප්‍රකාශනය**

| | | රු.'000 | |
|---|---|---|---|
| **මෙහෙයුම් ක්‍රියාකාරකම් වලින් මුදල් ප්‍රවාහ:** | | | |
| බදු පෙර ලාභය | | 8 660 (02) | WR1 |
| *ගැලපීම්:* | | | |
| මෝටර් රථ විකිණීම මත ලාභය | | (400) (01) | |
| ක්ෂය | | 2 100 (01) | |
| | | 10 360 | |
| *කාරක ප්‍රාග්ධනයේ වෙනස්වීම්:* | | | |
| තොග වැඩි වීම | | (2 500) (01) | |
| වෙළෙඳ ලැබිය යුතු දෑ අඩු වීම | | 2 250 (01) | |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ අඩු වීම | | (3 050) (01) | |
| මෙහෙයුම් වලින් මුදල් | | 7 060 | |
| බදු ගෙවීම් | | (1 260) (01) | WR 2 |
| මෙහෙයුම් ක්‍රියාකාරකම් වලින් ජනනය වූ ශුද්ධ මුදල් | (01) | 5 800 | |
| **ආයෝජන ක්‍රියාකාරකම් වලින් මුදල් ප්‍රවාහ:** | | | |
| මෝටර් රථයක් මිල දී ගැනීම | | (8 000) (02) | WR 3 |
| මෝටර් රථයක් විකිණීමෙන් ලද මුදල් | | 1 900 (02) | WR 4 |
| ආයෝජන ක්‍රියාකාරකම්වල යෙද වූ ශුද්ධ මුදල් | (01) | (6 100) | |
| **මූල්‍ය ක්‍රියාකාරකම් වලින් මුදල් ප්‍රවාහ:** | | | |
| කොටස් නිකුතුවෙන් ලද මුදල | | 6 000 (01) | WR 5 |
| කල්බදු වාරික ගෙවීම | | (4 000) (01) | |
| ලාභාංශ ගෙවීම | | (1 200) (01) | |
| මූල්‍ය ක්‍රියාකාරකම් වලින් ජනනය වූ ශුද්ධ මුදල් | (01) | 800 | |
| කාලච්ඡේදය සඳහා වූ ශුද්ධ මුදල් ප්‍රවාහ වැඩි වීම | | 500 | |
| 2019.04.01 දිනට මුදල් සහ මුදල් සමාන දෑ | | 600 (01) | |
| 2020.03.31 දිනට මුදල් සහ මුදල් සමාන දෑ | | **1 100** (01) | |

**පෙරවැඩ (WR):**

**WR 1 බදු පෙර ලාභය**

| | | |
|---|---|---|
| අවසාන රඳවාගත් ඉපැයුම් | 6 500 | |
| ආරම්භක රඳවාගත් ඉපැයුම් | (2 200) | |
| | 4 300 | |
| සංචිත ප්‍රාග්ධනිත කිරීම | 2 000 | 01 |
| අතුරු ලාභාංශ | 1 200 | 01 |
| වර්ෂය සඳහා ලාභය | 7 500 | |
| වර්ෂය සඳහා බදු | 1 160 | |
| **බදු පෙර ලාභය** | **8 660** | |

**WR 2 ගෙවූ බදු**

| | | |
|---|---|---|
| ආරම්භක ගෙවිය යුතු බදු | 600 | |
| කාලච්ඡේදය සඳහා බදු වියදම | 1 160 | 01 |
| අවසාන ගෙවිය යුතු බදු | (500) | |
| **ගෙවූ බදු** | **(1 260)** | |

**WR 3 මෝටර් රථයක් මිල දී ගැනීම**

| | | |
|---|---|---|
| අවසාන ශේෂය | 35 500 | |
| ආරම්භක ශේෂය | (30 100) | |
| | 5 400 | |
| ප්‍රත්‍යාගණනය | (1 000) | 01 |
| ඉවත් කිරීම | 3 000 | |
| ක්ෂය | 2 100 | 01 |
| ඉවත් කිරීම් මත ක්ෂය | (1 500) | |
| **අත්පත් කරගැනීම මත ගෙවූ මුදල්** | **8 000** | |

**WR 4 මෝටර් රථ ඉවත් කිරීම තුළින් ලද මුදල්**

| | | |
|---|---|---|
| පිරිවැය | 3 000 | 01 |
| ලාභය | 400 | |
| ක්ෂය | (1 500) | 01 |
| විකිණීමෙන් ලද මුදල් | **1 900** | |

**WR 5 කොටස් නිකුත් කිරීමෙන් ලද මුදල්**

| | | |
|---|---|---|
| අවසාන ප්‍රකාශිත ප්‍රාග්ධනය | 28 000 | |
| ආරම්භක ප්‍රකාශිත ප්‍රාග්ධනය | (20 000) | |
| | 8 000 | |
| සංචිත ප්‍රාග්ධනිත කිරීම | (2 000) | 01 |
| කොටස් නිකුත් කිරීමෙන් ලද මුදල් | **6 000** | |

**(ලකුණු 20)**
**(මුළු ලකුණු 40)**

**ප්‍රශ්න අංක 5**

| කොටස | 1 | 2 | එකතුව |
|---|---|---|---|
| (අ) | 10 | 10 | 20 |
| (ආ) | | | 20 |
| | | | **40** |

ප්‍රශ්න අංක 6

(අ)

| | සමාගම | අනුපාතය |
|---|---|---|
| (1) | බීටා (01) | ණය හිමිකම් අනුපාතය (01) |
| (2) | ඇල්ෆා (01) | තොග පිරිවැටුම් අනුපාතය (01) |
| (3) | බීටා (01) | ක්ෂණික වත්කම් අනුපාතය / ජංගම අනුපාතය (01) |
| (4) | ගැමා (01) | වත්කම් මත ප්‍රතිලාභ අනුපාතය (01) |
| (5) | බීටා (01) | ණයගැති පිරිවැටුම් අනුපාතය (01) |

(ලකුණු 10)

(ආ)

(1) (රු.'000)

| | 0 | 1 | 2 | 3 | 4 | 5 | |
|---|---|---|---|---|---|---|---|
| **මුදල් ගලා ඒම්** | | | | | | | |
| වර්ධක මෙහෙයුම් මුදල් ප්‍රවාහය | | 600 | 600 | 600 | 600 | 600 | (01) |
| සුන්බුන් අගය | | | | | | 125 | (01) |
| කාරක ප්‍රාග්ධනය නැවත ලැබීම | | | | | | 275 | (01) |
| පැරණි උපකරණය විකිණීම | 250 (01) | | | | | | |
| **මුළු මුදල් ගලා ඒම්** | **250** | **600** | **600** | **600** | **600** | **1 000** | |
| **මුදල් ගලා යෑම්** | | | | | | | |
| නව උපකරණයේ පිරිවැය | 1 800 | (02) | | | | | |
| ප්‍රවාහන පිරිවැය | 200 | | | | | | |
| සවිකිරීම් පිරිවැය | 75 | | | | | | |
| කාරක ප්‍රාග්ධනය | 275 (01) | | | | | | |
| **මුළු මුදල් ගලා යෑම්** | **2 350** | - | - | - | - | - | |

(ලකුණු 07)

(2)

**ශුද්ධ වර්තමාන අගය** (02) **422**

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ශුද්ධ මුදල් ප්‍රවාහය (01) | -2 100 | 600 | 600 | 600 | 600 | 1 000 | |
| 10% වට්ටම් සාධකය | 1 | 0.91 | 0.83 | 0.75 | 0.68 | 0.62 | (01) |
| වර්තමාන අගය | -2 100 | 546 | 498 | 450 | 408 | 620 | 422 |

(ලකුණු 02)

(3) (01) ශුද්ධ වර්තමාන අගය ධන අගයක් ගන්නා බැවින් ව්‍යාපෘතිය පිළිගත යුතුය.

(ලකුණු 01)

(ලකුණු 10)

(ඉ)

(1) මුළු ස්ථාවර පිරිවැය = රු. 150 000 (05)

ප්‍රතිලාභියෙකු සඳහා විචල්‍ය පිරිවැය = රු. 1 000 (03)

| | | | |
|---|---|---|---|
| **පෙරවැඩ:** | | | |
| **ස්ථාවර පිරිවැය:** | | රු. | |
| වෛද්‍යවරුන්ගේ උපදේශන ගාස්තු | | 30 000 | 01 |
| අත්පොත සංස්කරණය කිරීමේ පිරිවැය | | 25 000 | 01 |
| චිත්‍ර ඇඳීමේ පිරිවැය | | 10 000 | 01 |
| අත්පොත ලිවීමේ පිරිවැය | (10 000 x 7) | 70 000 | 01 |
| යතුරුලියන පිරිවැය | (50 x 300) | 15 000 | 01 |
| **මුළු ස්ථාවර පිරිවැය** | | **150 000** | |
| **ප්‍රතිලාභියෙකු සඳහා විචල්‍ය පිරිවැය:** | | | |
| | | රු. | |
| අත්පොත සඳහා මුද්‍රණ ගාස්තු | | 700 | 01 |
| අත්වැසුම් යුගලයක පිරිවැය | | 200 | 01 |
| මුහුණු ආවරණයක පිරිවැය | | 100 | 01 |
| **ප්‍රතිලාභියෙකු සඳහා විචල්‍ය පිරිවැය** | | **1 000** | |

(ලකුණු 08)

(2) (i) ප්‍රතිලාභීන් සංඛ්‍යාව = 300 (02)

| | | |
|---|---|---|
| **පෙරවැඩ:** | | |
| මුළු ස්ථාවර පිරිවැය (රු.) | 01 | 150 000 |
| ප්‍රතිලාභියෙකු සඳහා දායකය (රු.) | 01 | 500 |
| **ප්‍රතිලාභීන් සංඛ්‍යාව** | | **300** |

(ii) අපේක්ෂිත අනුග්‍රාහකත්වය = රු. 450 000 (02)

| | | |
|---|---|---|
| **පෙරවැඩ:** | | |
| ප්‍රතිලාභියෙකු සඳහා අනුග්‍රාහකත්වය (රු.) | 1 500 | 01 |
| ප්‍රතිලාභීන් සංඛ්‍යාව | 01 300 | |
| **අපේක්ෂිත අනුග්‍රාහකත්වය** (1 500* 300) (රු.) | **450 000** | |

(ලකුණු 04)

(3) රු.100 000 ක අතිරික්තයක් ලබා ගැනීමට අපේක්ෂා කරන්නේ නම් අපේක්ෂිත ප්‍රතිලාභීන් සංඛ්‍යාව = 500 (03)

| පෙරවැඩ: | | රු. | |
|---|---|---|---|
| ස්ථාවර පිරිවැය | 01 | 150 000 | |
| අතිරික්තය | | 100 000 | 01 |
| එකතුව | | 250 000 | |
| ප්‍රතිලාභියෙකු සඳහා දායකය | 01 | 500 | |
| **අපේක්ෂිත ප්‍රතිලාභීන් සංඛ්‍යාව** (250 000/500) | | **500** | |

(ලකුණු 03)

(4) සුබ සාධක සමිතියට අපේක්ෂිත අතිරික්තය = රු.150 000 (05)

| පෙරවැඩ: **සුබ සාධක සමිතියට අපේක්ෂිත අතිරික්තය:** | | | |
|---|---|---|---|
| ප්‍රතිලාභියෙකු සඳහා දායකය (රු.) | 01 | 500 | |
| ප්‍රතිලාභියෙකු සඳහා අනුග්‍රාහකත්වය (රු.) | | 1 500 | 01 |
| දායක විකුණුම් අනුපාතය (1500/500) | | 0.33 | |
| අනුග්‍රාහකත්වය (රු.) | | 900 000 | 01 |
| දායකය (රු.) (900 000x0.33) | 01 | 300 000 | |
| ස්ථාවර පිරිවැය (රු.) | 01 | 150 000 | |
| **අතිරික්තය (රු.)** | | **150 000** | |

(ලකුණු 05)

(ලකුණු 20)

(මුළු ලකුණු 40)

ප්‍රශ්න අංක 6

| කොටස | 1 | 2 | 3 | 4 | 5 | එකතුව |
|---|---|---|---|---|---|---|
| (අ) | 02 | 02 | 02 | 02 | 02 | 10 |
| (ආ) | 07 | 02 | 01 | - | - | 10 |
| (ඉ) | 08 | 04 | 03 | 05 | - | 20 |
| | | | | | | **40** |

60429

AL/2020/33/S-I(NEW)

සියලු ම හිමිකම් ඇවිරිණි / முழுப் பதிப்புரிமையுடையது / All Rights Reserved]

නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2020
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2020
General Certificate of Education (Adv. Level) Examination, 2020

ගිණුම්කරණය I
கணக்கீடு I
Accounting I

33 S I

පැය දෙකයි
இரண்டு மணித்தியாலம்
Two hours

උපදෙස්:
- ※ සියලුම ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
- ※ අංක 1 සිට 30 තෙක් වූ ප්‍රශ්නවලට නිවැරදි පිළිතුරු තෝරා **එහි අංකය ප්‍රශ්නයට ඉදිරියෙන් ඇති තිත් ඉර මත ලියන්න.**
- ※ අංක 31 සිට 50 තෙක් වූ ප්‍රශ්නවලට කෙටි පිළිතුරු **අදාළ තිත් ඉරි මත ලියන්න.**
- ※ සෑම ප්‍රශ්නයකටම **සමාන ලකුණු** හිමි වේ.
- ※ **විභාග අංකය**, ඉහළින් ඇති කොටුවේ පැහැදිලි ව සටහන් කරන්න.
- ※ **වැඩසටහන් සම්පාදනය කළ නොහැකි ගණක යන්ත්‍ර භාවිතයට අවසර දෙනු ලැබේ.**

විභාග අංකය : ..............................

පරීක්ෂකගේ ප්‍රයෝජනය සඳහා පමණි.

| | අත්සන | සංකේත අංකය |
|---|---|---|
| 1 වන පරීක්ෂකගේ | | |
| 2 වන පරීක්ෂකගේ | | |
| අති/ප්‍රධාන පරීක්ෂකගේ | | |
| ගණිත පරීක්ෂකගේ | | |
| ප්‍රධාන පරීක්ෂකගේ | | |

| I පත්‍රය සඳහා | |
|---|---|
| ප්‍රශ්න අංකය | ලකුණු |
| 01 - 30 | |
| 31 - 50 | |
| එකතුව | |

1. ආයතනයක මූල්‍ය ගිණුම්කරණයේ **මූලික අරමුණ** කුමක්ද?
   (1) නෛතික අවශ්‍යතාවයන්ට අනුකූලව ගනුදෙනු සටහන් කිරීම සහ වාර්තා කිරීම.
   (2) ගිණුම්කරණ ප්‍රමිතවලට අනුකූලව පොදු පරමාර්ථ මූල්‍ය ප්‍රකාශන පිළියෙල කිරීම.
   (3) වාර්ෂික බාහිර විගණනය සඳහා මූල්‍ය ප්‍රකාශන මගින් තොරතුරු සැපයීම.
   (4) ඇල්මැති පාර්ශ්වයන්ට තීරණ ගැනීම සඳහා තොරතුරු සැපයීම.
   (5) කළමණාකරුවන්ට තීරණ ගැනීම සඳහා මූල්‍ය තොරතුරු සැපයීම. (.....)

● **අංක 2, 3, 4 සහ 5 ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමට පහත තොරතුරු භාවිත කරන්න.**

නුවන් විසින් 2020.01.01 දින ලිපිද්‍රව්‍ය අලෙවිසැලක් ආරම්භ කරන ලදී. ඔහුගේ සොහොයුරු සුජිත් මෙම ව්‍යාපාරයේ එකම සේවකයා වේ. පහත ගනුදෙනු 2020 ජනවාරි මාසය තුළ සිදු විය.

| අංකය | ගනුදෙනුව | වටිනාකම (රු. '000) |
|---|---|---|
| 1 | ව්‍යාපාරය ආරම්භ කිරීම සඳහා නුවන් මුදල් යෙදවීම | 300 |
| 2 | ලිපිද්‍රව්‍ය අත්පිට මුදලට මිල දී ගැනීම | 200 |
| 3 | ලිපිද්‍රව්‍ය ණයට මිල දී ගැනීම | 550 |
| 4 | දෝෂ සහිත වූ බැවින් ණයට මිල දී ගත් ලිපිද්‍රව්‍ය වලින් කොටසක් ආපසු යැවීම | 50 |
| 5 | ලිපිද්‍රව්‍ය ණයට විකිණීම. මෙය තුළ රු. 64 000 ක එකතු කළ අගය මත බදු (VAT) අඩංගු ය | 864 |
| 6 | සුජිත්ට වැටුප් ගෙවීම | 40 |

මාසය තුළ විකුණූ ලිපිද්‍රව්‍යවල පිරිවැය රු. 500 000 ක් විය. 2020.01.31 දිනට ව්‍යාපාරය විසින් ගෙවිය යුතු විදුලි වියදම රු. 30 000 ක් විය. ගැනුම් සහ අනෙකුත් වියදම් මත VAT නොමැති බව උපකල්පනය කරන්න.

2. ගනුදෙනු අංක **2, 3, 4** සහ **5** සටහන් කිරීමට යොදාගනු ලබන මූලාශ්‍ර ලේඛන අනුපිළිවෙළින් :
   (1) ඉන්වොයිසිය, භාණ්ඩ ලැබීම් කුණ්ඩුව, හරපත, ඉන්වොයිසිය
   (2) ඉන්වොයිසිය, භාණ්ඩ ලැබීම් කුණ්ඩුව, බැරපත, ඉන්වොයිසිය
   (3) ගෙවීම් වවුචරය, ඉන්වොයිසිය, හරපත, ඉන්වොයිසිය
   (4) ගෙවීම් වවුචරය, ඉන්වොයිසිය, බැරපත, ඉන්වොයිසිය
   (5) ගෙවීම් වවුචරය, ඉන්වොයිසිය, බැරපත, ජර්නල් වවුචරය (.....)

[දෙවැනි පිටුව බලන්න.

**3.** ගනුදෙනු අංක **1, 2, 3** සහ **4** හි **ශුද්ධ බලපෑම** නිරූපණය කරනු ලබන ගිණුම්කරණ සමීකරණය කුමක් ද?

| | වත්කම් (රු.'000) | = | වගකීම් (රු.'000) | + | හිමිකම (රු.'000) |
|---|---|---|---|---|---|
| (1) | + 800 | | + 550 | | + 250 |
| (2) | + 800 | | + 500 | | + 300 |
| (3) | + 850 | | + 550 | | + 300 |
| (4) | + 1 000 | | + 700 | | + 300 |
| (5) | + 1 000 | | + 750 | | + 250 |

(......)

**4.** මෙම ව්‍යාපාරය ණයගැති පාලන ගිණුමක් පවත්වාගෙන යන්නේ නම්, ගනුදෙනු අංක **5** සටහන් කිරීමට අදාළ නිවැරදි ද්විත්ව සටහන කුමක් ද?

| | | හර (රු.'000) | බැර (රු.'000) |
|---|---|---|---|
| (1) | ණයගැති පාලන ගිණුම | 800 | |
| | විකුණුම් ගිණුම | | 800 |
| (2) | ණයගැති පාලන ගිණුම | 864 | |
| | විකුණුම් ගිණුම | | 864 |
| (3) | ණයගැති පාලන ගිණුම | 800 | |
| | VAT වියදම් ගිණුම | 64 | |
| | විකුණුම් ගිණුම | | 864 |
| (4) | ණයගැති පාලන ගිණුම | 864 | |
| | විකුණුම් ගිණුම | | 800 |
| | VAT පාලන ගිණුම | | 64 |
| (5) | ණයගැති පාලන ගිණුම | 800 | |
| | VAT වියදම් ගිණුම | 64 | |
| | විකුණුම් ගිණුම | | 800 |
| | VAT පාලන ගිණුම | | 64 |

(......)

**5.** 2020.01.31 දිනෙන් අවසන් මාසය සඳහා මෙම ව්‍යාපාරයෙහි දළ ලාභය සහ ශුද්ධ ලාභය කොපමණ ද?

| | දළ ලාභය (රු.'000) | ශුද්ධ ලාභය (රු.'000) |
|---|---|---|
| (1) | 300 | 230 |
| (2) | 300 | 260 |
| (3) | 300 | 270 |
| (4) | 364 | 294 |
| (5) | 364 | 324 |

(......)

● **අංක 6 සහ 7 ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමට පහත තොරතුරු භාවිත කරන්න.**

ව්‍යාපාරයක් එහි සියලු මුදල් ගනුදෙනු බැංකු ජංගම ගිණුමක් මගින් සිදු කරනු ලබයි. මෙම ව්‍යාපාරයේ 2020 පෙබරවාරි මාසයේ අවසාන මුදල් ශේෂය හා බැංකු ප්‍රකාශනයේ ශේෂය අතර වෙනසක් නොවී ය. කෙසේ වුව ද, 2020.03.31 දිනට මුදල් ගිණුමේ ශේෂය වූ රු. 500 000 එදිනට බැංකු ප්‍රකාශනයේ ශේෂය සමග එකඟ නොවී ය. මාර්තු මාසයේ බැංකු ප්‍රකාශනය 2020.04.03 දින ලද අතර, එය පරීක්ෂා කිරීමේදී පහත දෑ හෙළිදරව් විය.

A - 2020.03.29 දින තැන්පත් කරන ලද රු. 100 000 ක චෙක්පතක් උපලබ්ධි වී නොමැත.

B - ස්ථාවර නියෝග මත ගෙවන ලද මාර්තු මාසයේ ණය වාරිකය රු. 30 000 කි.
(මෙය තුළ අඩංගු පොලී වියදම රු. 12 000 කි.)

C - 2020.03.30 දින බැංකුවේ තැන්පත් කරන ලද රු. 80 000 ක චෙක්පතක් 2020.03.31 දින අගරු වී ඇත.

D - රු. 120 000 ක ආයෝජන ආදායමක් බැංකු ගිණුමට සෘජුව බැරකර ඇත.

සෘජු ප්‍රේෂණ, ස්ථාවර නියෝග ගෙවීම් සහ අගරු වූ චෙක්පත් පොත්වල සටහන් කරනු ලබන්නේ බැංකු ප්‍රකාශනය ලැබීමෙන් පසුව පමණි.

ඉහත 'A' සහ 'C' මගින් නිරූපනය කරනු ලබන්නේ ණයගැතියන් දෙදෙනෙකු විසින් ඔවුන්ගේ ගෙවිය යුතු ශේෂ පියවීම සඳහා ලබාදුන් චෙක්පත් ය.

[තුන්වැනි පිටුව බලන්න.

6. 2020.03.31 දිනට මුදල් ගිණුමේ සංශෝධිත ශේෂය සහ බැංකු ප්‍රකාශනයේ ශේෂය:

| | මුදල් ගිණුමේ සංශෝධිත ශේෂය (රු.'000) | බැංකු ප්‍රකාශනයේ ශේෂය (රු.'000) |
|---|---|---|
| (1) | 410 | 510 |
| (2) | 510 | 410 |
| (3) | 510 | 510 |
| (4) | 590 | 410 |
| (5) | 590 | 510 |

(......)

7. A, B, C සහ D අයිතම වලින් 2020 මාර්තු මාසය සඳහා ලාභයට සහ 2020.03.31 දිනට ණයගැති පාලන ගිණුමේ ශේෂයට ඇති **ශුද්ධ බලපෑම** කොපමණ ද?

| | ලාභයෙහි වැඩිවීම (රු.'000) | ණයගැති පාලන ගිණුමේ ශේෂය වැඩිවීම/(අඩුවීම) (රු.'000) |
|---|---|---|
| (1) | 90 | (100) |
| (2) | 90 | (20) |
| (3) | 108 | (20) |
| (4) | 108 | 80 |
| (5) | 120 | 80 |

(......)

8. ගිණුම්කරණ සංකල්ප භාවිතය සම්බන්ධයෙන් පහත කුමන ප්‍රකාශය/ප්‍රකාශ **නිවැරදි** වේ ද?

A - ණයගැතියන් සහ ණයහිමියන් හඳුනා ගැනීම සඳහා උපචිත සංකල්පය පදනම සපයනු ලබයි.

B - පිරිවැය සහ ශුද්ධ උපලබ්ධි අගය යන දෙකෙන් අඩු අගයට තොග මැනීම සඳහා ගැළපුම් සංකල්පය පදනම සපයනු ලබයි.

C - මූල්‍ය තත්ත්ව ප්‍රකාශනය තුළ වත්කම් සහ වගකීම්, ජංගම හා ජංගම නොවන ලෙස වර්ගීකරණය කිරීම සඳහා අඛණ්ඩ පැවැත්මේ සංකල්පය පදනම සපයනු ලබයි.

(1) A පමණි. (2) B පමණි. (3) C පමණි.
(4) A හා C පමණි. (5) A, B හා C යන සියල්ල ම ය. (......)

9. පහත කුමන ගිණුම්කරණ පිළිවෙත/පිළිවෙත්, යථාරූපී සංකල්පයේ භාවිතය නිරූපණය කරනු ලබයි ද?

A - ආයතනයක් විසින් ගෙවිය යුතු ආදායම් බදු වගකීමක් ලෙස හඳුනා ගැනීම.

B - 'වත්කමක භාවිත අයිතිය' කල්බදු ගැනුම්කරුගේ මූල්‍ය ප්‍රකාශනවල වත්කමක් ලෙස හඳුනා ගැනීම.

C - ආයතනයක සම්මුතික බැඳීමක් එහි වගකීමක් ලෙස හඳුනා ගැනීම.

(1) A පමණි. (2) B පමණි. (3) C පමණි.
(4) B හා C පමණි. (5) A, B හා C යන සියල්ල ම ය. (......)

10. 2020.04.01 දින නාමල් වෙළෙන්දෝ විසින් එහි මෙහෙයුම් ආරම්භ කරන ලදී. 2020 අප්‍රේල් මාසය සඳහා පහත තොරතුරු සපයා ඇත.

| මූලික පොත්වල එකතුව : | රු.'000 | වෙනත් තොරතුරු : | රු.'000 |
|---|---|---|---|
| විකුණුම් ජර්නලය | 220 | විකුණුම් පිරිවැය | 110 |
| ගැනුම් ජර්නලය | 200 | මෙහෙයුම් වියදම් (වට්ටම් හැර) | 60 |
| ආපසු එවුම් ජර්නලය | 20 | ලද වෙළෙඳ වට්ටම් | 20 |
| ආපසු යැවුම් ජර්නලය | 10 | දුන් වෙළෙඳ වට්ටම් | 8 |
| | | ලද මුදල් වට්ටම් | 5 |
| | | දුන් මුදල් වට්ටම් | 10 |

2020 අප්‍රේල් මාසය සඳහා හඳුනාගත් මුළු ආදායම සහ මුළු වියදම:

| | මුළු ආදායම (රු.'000) | මුළු වියදම (රු.'000) |
|---|---|---|
| (1) | 200 | 170 |
| (2) | 205 | 170 |
| (3) | 205 | 180 |
| (4) | 220 | 180 |
| (5) | 225 | 188 |

(......)

[හතරවැනි පිටුව බලන්න.

**11.** මුහුණු ආවරණ නිෂ්පාදනය කිරීම සඳහා 2020.04.01 දින මධූ විසින් ව්‍යාපාරයක් ආරම්භ කරන ලදී. 2021.03.31 දිනෙන් අවසන් වර්ෂය තුළ මුහුණු ආවරණ 12 000 ක් නිෂ්පාදනය කිරීමට අපේක්ෂා කරයි. මෙම වර්ෂය සඳහා අයවැයගත නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය රු. 360 000 ක් වේ.

2020 අප්‍රේල් මාසය තුළදී පහත සත්‍ය පිරිවැය දරන ලදී.

| | |
|---|---|
| රෙදිවල පිරිවැය (ඒකකයක් සඳහා) | රු. 60 |
| සෘජු සැකසුම් පිරිවැය (ඒකකයක් සඳහා) | රු. 20 |
| නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය | රු. 30 000 |
| නිෂ්පාදන නොවන පොදු කාර්ය පිරිවැය | රු. 20 000 |

අප්‍රේල් මාසය තුළදී ඒකක 1 000 ක් නිෂ්පාදනය කරන ලද අතර, ඒකක 800 ක් ඒකකයක් රු. 150 බැගින් විකුණන ලදී. 2020 අප්‍රේල් මාසය සඳහා ලාභය සහ 2020.04.30 දිනට නිමි තොගයේ පිරිවැය:

| | මාසය සඳහා ලාභය (රු.) | තොගයේ පිරිවැය (රු.) |
|---|---|---|
| (1) | 6 000 | 16 000 |
| (2) | 6 000 | 22 000 |
| (3) | 12 000 | 16 000 |
| (4) | 12 000 | 22 000 |
| (5) | 16 000 | 26 000 |

(......)

**12.** 2020.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ආයතනයක් රු.150 000 ක ලාභයක් වාර්තා කරන ලදී. කෙසේ වුව ද පසුව කරන ලද පරීක්ෂාවකදී ගිණුම් පොත්වල පහත වැරදි අනාවරණය විය.

- 2020 මාර්තු මාසය සඳහා මුළු ණයට විකුණුම් රු. 650 000 ක් විකුණුම් ගිණුමේ සහ ණයගැති පාලන ගිණුමේ රු. 560 000 ක් ලෙස සටහන් කර තිබුණි.
- වෙළෙඳ ණයගැතියෙකුට ලබාදුන් රු. 20 000 ක මුදල් වට්ටමක් ණයගැති පාලන ගිණුමේ පමණක් පිටපත් කර තිබුණි.
- බැංකු තැන්පතුවකින් ලද රු. 25 000 ක පොලී ආදායමක් පොලී වියදම් ගිණුමට බැර කර තිබුණි. කෙසේ වුව ද මෙම වට්නාකම මුදල් ගිණුමෙහි නිවැරදිව සටහන් කර තිබුණි.
- වර්ෂය සඳහා මෝටර් රථ මත ක්ෂය රු. 30 000 ක් මෙතෙක් වෙන් කර නොතිබුණි.

ඉහත වැරදි නිවැරදි කිරීමෙන් පසුව 2020.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා **නිවැරදි** ලාභය කොපමණ ද?

(1) රු. 165 000 (2) රු. 190 000 (3) රු. 210 000
(4) රු. 215 000 (5) රු. 235 000 (......)

**13.** ක්‍රීඩා සමාජයක 2020 මාර්තු 31 දිනෙන් අවසන් වර්ෂය සඳහා අදාළ තොරතුරු පහත දැක්වේ.

| | රු. |
|---|---|
| • වර්ෂය සඳහා හඳුනාගත් සාමාජික මුදල් ආදායම | 300 000 |
| • වර්ෂය තුළ කපාහරින ලද පසුගිය වර්ෂයේ හිඟහිටි සාමාජික මුදල් | 50 000 |
| • ක්‍රීඩා උපකරණ මිල දී ගැනීම සඳහා ලද පරිත්‍යාග (මින් රු. 100 000 ක් ක්‍රීඩා උපකරණ මිල දී ගැනීම සඳහා 2020.03.31 දින භාවිත කර ඇත.) | 500 000 |
| • ක්‍රීඩා පිටිය කුලියට දීම වෙනුවෙන් වර්ෂය තුළ ලද ඉතිරි මුදල (මේ සඳහා 2019.03.30 දින රු. 150 000 ක අත්තිකාරම් මුදලක් ලැබී තිබුණි.) | 100 000 |

පරිත්‍යාගවලින් භාවිත කරන ලද වටිනාකම පමණක් වර්ෂයේ ආදායම ලෙස හඳුනාගැනීම ක්‍රීඩා සමාජයේ ප්‍රතිපත්තිය වේ.

ඉහත අයිතම නිසා ක්‍රීඩා සමාජයේ 2020.03.31 දිනට සමුච්චිත අරමුදලෙහි ශේෂය **වැඩිවීම**:

(1) රු. 350 000 (2) රු. 450 000 (3) රු. 500 000
(4) රු. 600 000 (5) රු. 900 000 (......)

[පස්වැනි පිටුව බලන්න.

**14.** හවුල් ව්‍යාපාර සම්බන්ධයෙන් පහත කුමන ප්‍රකාශ **නිවැරදි** වේ ද?

A - හවුල් ව්‍යාපාර විසින් මූල්‍ය ප්‍රකාශන පිළියෙල කිරීමේදී ගිණුම්කරණ ප්‍රමිත අනුගමනය නොකළ යුතු ය.

B - හවුල්කරුවන් විසින් ව්‍යාපාරයේ කළමනාකරණයට හවුල්කරුවන් ලෙස දායක වූ විට ඔවුන්ට ගෙවන වේතන හවුල් ව්‍යාපාරයේ වියදම් ලෙස සලකනු ලැබේ.

C - ප්‍රාග්ධනයට දායක වූ අනුපාතයට ලාභාලාභ බෙදාගැනීමට හවුල්කරුවන්ට ලිඛිත ගිවිසුමකින් එකඟ විය හැක.

D - හවුල් ව්‍යාපාරයක අයිතිය වෙනස් වන විට, එහි කීර්තිනාමය ඇස්තමේන්තු කරනු ලැබේ.

(1) B හා C පමණි. (2) C හා D පමණි. (3) A, B හා D පමණි.
(4) A, C හා D පමණි. (5) B, C හා D පමණි. (......)

● **අංක 15 සහ 16 ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමට පහත තොරතුරු භාවිත කරන්න.**

මීනා සහ රාධා විසින් පවත්වාගෙන යනු ලබන හවුල් ව්‍යාපාරයේ කොන්දේසි පහත පරිදි වේ.

- මීනා සහ රාධා අතර ලාභාලාභ බෙදාගැනීමේ අනුපාතය පිළිවෙළින් 3 : 2 වේ.
- මීනා සහ රාධා පිළිවෙළින් රු. 450 000 ක සහ රු. 350 000 ක වාර්ෂික වේතනයකට හිමිකම් කියයි.

**අනෙකුත් තොරතුරු:**

ජංගම ගිණුම්වල බැර ශේෂ:

| | **2020.03.31 දිනට (රු.'000)** | **2019.03.31 දිනට (රු.'000)** |
|---|---|---|
| මීනා | 600 | 250 |
| රාධා | 480 | 200 |

2020.03.31 දිනෙන් අවසන් වර්ෂය තුළදී වැටුප් ගෙවීම් සහ භාණ්ඩ ගැනිලි:

| | **මීනා (රු.'000)** | **රාධා (රු.'000)** |
|---|---|---|
| වැටුප් | 300 | 200 |
| භාණ්ඩ ගැනිලි | 100 | 120 |

හවුල් ව්‍යාපාරයට ලබාදුන් ණය සඳහා රාධාට ගෙවිය යුතු රු. 50 000 ක වාර්ෂික පොලිය ඇයගේ ජංගම ගිණුමට බැර කර ඇත.

**15.** 2020.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හවුල් ව්‍යාපාරයේ ලාභය:

(1) රු. 500 000 (2) රු. 850 000 (3) රු. 1 250 000
(4) රු. 1 300 000 (5) රු. 1 350 000 (......)

**16.** 2020.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා රාධාට විසර්ජනය කළ මුළු ලාභය:

(1) රු. 200 000 (2) රු. 250 000 (3) රු. 280 000
(4) රු. 550 000 (5) රු. 600 000 (......)

**17.** පහත කුමන ප්‍රකාශය/ප්‍රකාශ LKAS 16 (දේපළ, පිරියත සහ උපකරණ) ප්‍රමිතයට අනුව **නිවැරදි** වේ ද?

A - කාලච්ඡේදය සඳහා ක්ෂය සැම විට ම ලාභය හෝ අලාභය තුළ හඳුනාගත යුතු ය.

B - දේපළ, පිරියත සහ උපකරණ අයිතමයක් මූලික හඳුනාගැනීමේදී පිරිවැයට මැනිය යුතු ය.

C - වත්කමක් ප්‍රවර්තන වර්ෂය තුළ ප්‍රත්‍යාගණනය කිරීම තුළින් ඇති වූ අතිරික්තය එම වත්කම සම්බන්ධව පෙර ප්‍රත්‍යාගණන ඌනතාවයක් නොමැති විට හඳුනාගත යුත්තේ, වෙනත් විස්තීරණ ආදායමෙහි ය.

(1) A පමණි. (2) C පමණි. (3) A හා B පමණි.
(4) B හා C පමණි. (5) A, B හා C යන සියල්ල ම ය. (......)

**18.** 2020.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සීමිත අජිත් පොදු සමාගමේ මූල්‍ය ප්‍රකාශන 2020.06.15 දින අධ්‍යක්ෂවරුන් විසින් නිකුත් කිරීම සඳහා අනුමත කරන ලදී. 2020.03.31 දින සිට 2020.06.15 දින දක්වා කාලය තුළ පහත සිදුවීම් සමාගමේ සිදු විය.

A - 2020.03.31 දිනට රු. මිලියන 5 ක ධාරණ වටිනාකමක් සහිත යන්ත්‍රයක් 2020.04.15 දින ඇති වූ ගින්නකින් සම්පූර්ණයෙන්ම විනාශ විය.

B - 2020.03.31 දිනට රු. 800 000 ක් ගෙවිය යුතු වෙළෙඳ ණයගැතියෙකු බුන්වත් වූ බව 2020.05.10 දින උසාවිය විසින් ප්‍රකාශයට පත්කරන ලදී.

C - රු. මිලියන 10 ක මහජන කොටස් නිකුතුවක් 2020.06.10 දින සිදුකරන ලදී.

LKAS 10 (වාර්තාකරණ කාලච්ඡේදයට පසු සිදුවීම්) ප්‍රමිතයට අනුව ඉහත කුමන සිදුවීම/සිදුවීම් මෙම සමාගමේ **ගැලපීම් නොකළ යුතු** සිදුවීමක්/සිදුවීම් ලෙස සැලකිය යුතු ද?

(1) A පමණි. (2) C පමණි. (3) A හා C පමණි.
(4) B හා C පමණි. (5) A, B හා C යන සියල්ල ම ය. (......)

[ හයවැනි පිටුව බලන්න.

